සසරේ මුල සිට අද දක්වා රැස් කරනලද්දාවූ පුණ්‍ය ශක්තියෙන්/ පුණ්‍ය ශක්තියන්ගේ බලයෙන් මට නිදුක්ව, නීරෝගීව කෙටි කාලයකින් සැප සහිත ප්‍රතිප්‍රදාවෙන් (ප්‍රර්ථනා කරන බෝධිය මෙහි සදහන් කරන්න) නිවන් අවබෝධ කිරීමට හැකි වේවා!

**මෙම මොහොතේ සිට නිවන් අවබෝධ කරන භවය දක්වා** ;

- මම සම්‍යක් දෘෂ්ටියේම පිහිටේවා! මට නියත මිත්‍යා දෘෂ්ටිය ඇති නොවේවා!
- ආනන්තරීය පාපකර්ම නොකරත්වා!
- මගේ රාගය, ද්වේශය, මෝහය අඩුවේවා! මට අලෝභ, අද්වේශ, අමෝහය ම ඇතිවේවා!
- මට දස පාරමිතා ධර්මයන් පහසුවෙන් පිරීමට හැකිවේවා!
- බාල අසත්පුරුෂ ආශ්‍රය නොලබත්වා! සත්පුරුෂ ආශ්‍රය පමණක්ම ලැබෙත්වා! මමද, සත්පුරුෂ ගතිගුණ ඇති අයෙකු වේවා! බාල අසත්පුරුෂයන් සහ සත්පුරුෂයන් වෙන්කොට හදුනාගැනීමට හැකිවේවා! බාල අසත්පුරුෂයෙකුට මා ළගට පැමිණීමටවත් නොහැකිවේවා!
- ත්‍රිවිධ රත්නය පිළිබද මනා අවබෝධයක් සහ ශ්‍රධාවක් තිබේවා! තිසරණය පමණක් සරණ ගිය ඇත්තෙකු වේවා! ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරන්නෙකුම වේවා!
- ආර්යයන් වහන්සේලා දුටු පමණින් (හෝ උන්වහන්සේලා පිලිබදව ඇසු පමණින්) හදුනා ගැනීමට හැකි වේවා!
- ආර්යයන් වහන්සේලා දැකීමත් උන් වහන්සේලා ඇසුරු කොට ජීවත් වීමටත් හැකිවේවා!.
- ආර්යයන් වහන්සේලාට සුදුසු ආකාරයෙන්, ළගින්ම සිට ඇප උපස්ථාන කිරීමට හැකිවේවා!
- ධර්මය පිළිබදව දැන ගැනීමට/ධර්මය පිළිබද සැක දුරුකිරීමට අවශ්‍ය වූ විට ආර්යයන් වහන්සේලාට කරදයක් හෝ අපහසුතාවයක් නොවෙන ආකාරයෙන් සහ සුදුසු වේලාවෙදී එම ධර්ම කරුණු විමසීමට හැකිවේවා!
- ඒ කල්‍යාණ මිත්‍රයාණන් වහන්සේලාගේ විශේෂ වූ අනුකම්පාව ද ලැබේවා!
- ඒ කල්‍යාණ මිත්‍රයාණන් වහන්සේලාට මම සිතින්, කයෙන්, වචනයෙන් අල්පමාත්‍රයක හෝ අවැඩක් නොකරත්වා!
- උසස් කුලවල, සත්පුරුෂයන් ළග පමණක් ම ඉපිදේවා! රූමත්, ගුණවත්, නැණවත්, සිල්වත් ම වේවා! වයසට ගියද ශරීරයේ එල්ලෙන ස්වභාවය අතිනොවේවා! කිසි විටකවත් අන් අය පහත් කොට සලකන අයෙකු නොවේවා! මා දුටු විට අන් අයට කුසලයේ වටිනාකම (දාන, සීල, භාවනා ආදියේ) සිහිපත් වේවා! මා ලග සිටින විට අන් අයගේ කුසලය මතුවී, අකුසලය යටපත් වී, සිත කය වචනය හික්මවේවා!
- ඉතා පහසුවෙන් වස්තූන් ලං වේවා! නිවණට කැප වන දේ පමණක් ලැබේවා! මා ඉතා පහසුවෙන් පෝෂණය කල හැකි අයෙකුම වේවා!
- බොහෝ සෙයින්, මනා කොට, ඉතාමත්ම සතුටින් දන් දෙන්නෙකු වේවා! කෙතරම් දන් දුන්නද මගේ වස්තූන් අඩු නොවේවා! බොහෝ වස්තූන් තිබුනද, ඒ පිළිබදව ලෝභ සිත් ඇති නොවී, මගේ සිතේ අල්පේච්ඡතාවය පමණක් ඇතිවේවා!
- මාගේ ඇත්තම කැමැත්ත හෝ මා කෙරෙහි කරුණාවෙන් සහ ආදරයෙන් හෝ මගේ යහපත පිණිස හැර, වෙනත් ජීවියෙකුට මා අතින්වත් (යම් උපකරණයකින් හෝ වෙනත් ආකාරයකින්) ඇල්ලීමට/ස්පර්ශ කිරීමට හැකි නොවේවා!
- මාගේ ඇත්තම කැමැත්ත හෝ මගේ යහපත පිණිස හැර, අන් අයට මාගේ වස්තූන් ස්පර්ශ කිරීමට හැකි නොවේවා!

- මට ද, මගේ පිරිසට ද (පවුල, නෑදෑයෝ යාළුවෝ ආදී), මා ලග සිටින සියලු ජීවීන්ටද ආයුධෙන් , ගින්නෙන්, වැස්සෙන්, නියගයෙන්, ගංවතුරෙන්, අමනුෂ්‍යයන්ගේ හෝ ස්වභාවික හෝ කෘත්‍රීමව ඇතිකරනලද කිසිම ආකාරයක විපතක් ළං නොවේවා!
- ඉතා පහසුවෙන්, ඉතා කැමැත්තෙන් සීලයන් ආරක්ෂා කරන අයෙකුම වේවා! සෑම විටකදීම සීලයේ වටිනාකම සිහිපත් වේවා! ගිහි කෙනෙකු නම් පන්සිල්, අටසිල් ද, ගිහි ජීවිතයෙන් ඉවත් වූ විට දස සිල්, පැවිදි සීලය ද ඉතා පහසුවෙන්, ඉතා කැමැත්තෙන් ආයාසයකින් තොරව ආරක්ෂා කරන අයෙකුම වේවා!
- ඉතා පහසුවෙන් සමාධියේ පිහිටීමට (ධ්‍යානයන්හි පිහිටමට) හැකි වේවා! සතර ඍධිපාද පහසුවෙන් වඩා විවිධ ආකාරයේ ඍද්ධි (අහසින් යාම, දිය සුළං ආදිය ඇති කිරීම, නො පෙනී සිටීම, ඇසට නො පෙනෙන දෑ දැකීම, අනුන්ගේ අදහස් දැනීම යනාදි) බල වැඩීමට හැකි වේවා! ඍද්ධි තුලින් ලෝකයේ ස්වභාවය (අනිත්‍ය, දුක්ඛ, අනාත්ම වශයෙන්), කර්ම ඵල අනුව ජීවින් එක් එක් තළ (තළ 31 තුල) පහළ වන අයුරු දැන ගැනීමට සහ තමා සහ අන් අයගේ යහපත පිණිස යොදා ගැනීමට හැකි වේවා!
- නිර්මල වූ ධර්ම රත්නය ම දැන ගැනීමට හැකි වේවා! ධර්මය හා අධර්මය වෙන් කොට හදුනාගැනීමට හැකි වේවා! ඒ අනන්තවත් ගුණ ඇති සම්මා සම්බුධුරජාණන් වහන්සේලා විසින් දේශනා කරන ලද ධර්ම රත්නය ඉස්පිල්, පාපිලි වල වත් අඩුවක් නොවී මතක තබා ගැනීමටත්, අන් අයට කියා දීමටත් හැකි වේවා!
- ත්‍රි සහශ්‍රි ලෝකධාතුවල තිබෙන වැලිකැට ගණනට වඩා වැඩියෙන් මට නිර්මල වූ ධර්ම රත්නය ඇසුරෙන් යහපත් වූ අවවාද, කාලීනව හා කාරුණිකව ලැබේවා! එම අවවාද මම හිස මුදුනින්ම පිළිගනිත්වා!

(නැවත මුල් ප්‍රාර්ථනාව සිහිපත් කරන්න:

සසරේ මුල සිට අද දක්වා රැස් කරනලද්දාවූ පුණ්‍ය ශක්තියෙන්/ පුණ්‍ය ශක්තියන්ගේ බලයෙන් මට නිදුක්ව, නීරෝගීව කෙටි කාලයකින් සැප සහිත ප්‍රතිප්‍රදාවෙන් (ප්‍රර්ථනා කරන බෝධිය මෙහි සදහන් කරන්න) නිවන් අවබෝධ කිරීමට හැකි වේවා! )